37833

AL/2020/45/S-I(NEW)



නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Adv. Level) Examination, 2020

බෞද්ධ ශිෂ්ටාචාරය I
பௌத்த நாகரிகம் I
Buddhist Civilization I

45 S I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
Two hours

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* පිළිතුරු පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
* පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
* **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි** හෝ **ඉතාමත් ගැළපෙන** පිළිතුර තෝරාගෙන එය **පිළිතුරු පත්‍රයේ දැක්වෙන උපදෙස් පරිදි කතිරයක්** (X) **යොදා දක්වන්න.**

**1.** බ්‍රාහ්මණ සංස්කෘතියේ ප්‍රමුඛ ආගමික සංස්කාර විධියක් වූ යාග කර්මයේ වේදපාඨ ගායනා කරන්නා හඳුන්වා ඇත්තේ කවර නමකින් ද?

(1) හෝතෘ (2) අධ්වර්යු (3) උද්ගාතෘ
(4) යඥකාරක (5) යඥග්‍රාහක

**2.** බ්‍රාහ්මණ ඉගැන්වීම් අනුව සන්‍යාසී ආශ්‍රමයේදී සිදු කළයුතු ප්‍රධානතම කාර්යය ලෙස හඳුනා ගත හැක්කේ, බ්‍රහ්ම සහව්‍යතාව අපේක්ෂාවෙන්,

(1) වනගතව විසීමයි.
(2) ස්තෝත්‍ර ගායනා කිරීමයි.
(3) වේද අධ්‍යයනය කිරීමයි.
(4) වතාවත් කිරීමයි.
(5) අනගාරිකව සංචාරක ජීවිතයක් ගත කිරීමයි.

**3.** බුද්ධකාලීන ප්‍රකට ශාස්තෘවරුන් සිවුදෙනෙකුගේ ආගමික හා දාර්ශනික මතවාද කිහිපයක් පහත දැක්වේ.

A - සත්ත්වයාගේ කෙළෙසීමට හෝ විශුද්ධියට හේතු ප්‍රත්‍යයක් නැත.
B - පඨවි, ආපෝ, තේජෝ, වායෝ, සුඛ, දුක්ඛ, ජීව යනුවෙන් නොබිඳෙන, ස්ථිර වූ සප්ත පදාර්ථයක් ඇත.
C - සියලු සත්ත්වයෝ අබලය, අවීර්යය, ශක්ති නැත්තෝය.
D - දුන්දෙයෙහි පලනැත, යාගයෙහි හෝ කුශලාකුශල කර්මයන්ගේ පලවිපාක නැත.
E - චතුයාම සංවරයෙන් යුක්තව, පෙර කරන ලද කර්ම ගෙවා දැමීමෙන් සහ නවකර්ම නොකිරීමෙන් මෝක්ෂය ස්පර්ශ කළ හැකිය.

ඉහත ප්‍රකාශ අතරින් මක්ඛලී ගෝසාලගේ ඉගැන්වීම් දෙක ඇතුළත් වරණය කුමක් ද?

(1) A සහ B (2) A සහ C (3) B සහ C
(4) C සහ D (5) D සහ E

**4.** දානයෙන්, ඉන්ද්‍රිය දමනයෙන්, සංවරයෙන් හා සත්‍ය වචනයෙන් සිදුවන පිනක් නැත යන අකිරියවාදයක් ඉගැන්වූ බුද්ධකාලීන ශාස්තෘවරයා වූයේ,

(1) නිගණ්ඨනාතපුත්ත ය.
(2) අජිත කේසකම්බල ය.
(3) සංජය බෙල්ලට්ඨිපුත්ත ය.
(4) පූරණ කස්සප ය.
(5) පකුධ කච්චායන ය.

[දෙවැනි පිටුව බලන්න

5. බුද්ධකාලීන භාරතයේ රාජ්‍ය පාලකයන් හා බුදුරජාණන් වහන්සේ අතර සමීප සබඳතා පැවති බව ඓතිහාසික මූලාශ්‍රය පැහැදිලි කරයි. ඔවුන් අතරින් පසේනදී කොසොල් රජතුමාට ප්‍රමුඛස්ථානයක් හිමි වේ. ඒ බව වඩාත් හොඳින් තහවුරු කෙරෙන සිදුවීම කුමක් ද?
(1) වේළුවනාරාමය පූජා කිරීම.
(2) රාජ භටයන් පැවිදි නොකරන ලෙස ඉල්ලීම.
(3) උපෝසථ කර්මය අනුදැන වදාරන ලෙස ඉල්ලීම.
(4) තිරෝකුඩ්ඩ සූත්‍රය දේශනා කිරීම.
(5) කෝසල රාජ්‍යයේ වැඩිම අවුරුදු ගණනක් වස් විසීම.

6. කෘෂිකර්මාන්තය දැහැමි ජීවනෝපායක් ලෙස අගය කරන බුදුසමය පාලකයා විසින් ගොවීන්ට බීජ ආදී අවශ්‍ය පහසුකම් සපයාදීමෙන් අනුග්‍රහ දැක්විය යුතු බව .............................. සූත්‍රයේ දැක්වේ.
(1) කූටදන්ත (2) කසීභාරද්වාජ (3) අග්ගඤ්ඤ
(4) චක්කවත්තිසීහනාද (5) ධනිය

7. බුද්ධකාලීන භාරතීය කාන්තාවට බුදුසමයෙන් හිමි කරදුන් ආගමික නිදහස තහවුරු කෙරෙන වඩාත්ම සුදුසු වරණය තෝරන්න.
(1) උපාසිකාවන්ට තනතුරු ප්‍රදානය කිරීම.
(2) මව "බ්‍රහ්ම" නාමයෙන් හැඳින්වීම.
(3) නිර්වාණාවබෝධයට ස්ත්‍රීත්වය බාධාවක් නොවන බව ප්‍රකාශ කිරීම.
(4) භික්ෂුණී ශාසනය ස්ථාපනය කිරීම.
(5) භික්ෂුණීන්ට ශාසනික තනතුරු ප්‍රදානය කිරීම.

8. බව කතරින් එතර
ලනුයෙන් සතන් හැමවර
තිලෝගුරු මුනිවර
............................ ...........



යනාදී පද්‍යයෙන් විස්තර වන බුදුගුණය කුමක් ද?
(1) භගවා (2) සත්ථා (3) බුද්ධ (4) සුගත (5) සම්මාසම්බුද්ධ

9. "නත්‍ථානන්ද තථාගතස්ස ධම්මෙසු ආචරිය මුට්ඨි" යන මහාපරිනිබ්බාන සූත්‍රයේ ඇතුළත් දේශනාව බුදුරජාණන් වහන්සේගේ .............................. ප්‍රකට කරයි.
(1) මහා ප්‍රඥාව (2) තාදි ගුණය (3) නිදහස් චින්තනය
(4) විශිෂ්ට ශාස්තෘත්වය (5) මහා කරුණාව

10. පටිපුච්ඡා ව්‍යාකරණීය යනු බුදුරජාණන් වහන්සේ විසින් .............................. සඳහා භාවිත කරන ලද ක්‍රමවේදයකි.
(1) සවිස්තරව ධර්ම දේශනා කිරීම
(2) කෙටියෙන් ධර්ම දේශනා කිරීම
(3) නිවැරදිව භාෂාව හැසිර වීම
(4) ශ්‍රාවකයාගේ බුද්ධියට ගැළපෙන සේ ධර්ම දේශනා කිරීම
(5) ප්‍රශ්න විසඳීම

11. "ලෝකයේ සුප්‍රසිද්ධ ආගම්වලින් මා බුදුදහමට, විශේෂයෙන් මුල් බුදුදහමට කැමතිවන්නේ එය කිසිවෙකු නොපෙළන බැවිනි."
ඉහත ප්‍රකාශය කවරෙකු විසින් සිදු කරන ලද්දක් ද?
(1) බර්ට්‍රන්ඩ් රසල්
(2) එඩ්වින් ආර්නෝල්ඩ්
(3) මහාචාර්ය සෝණ්ඩර්ස්
(4) ඇල්බට් අයින්ස්ටයින්
(5) මහාචාර්ය මැක්ස් මුලර්

**12.** පහත දැක්වෙන්නේ බුද්ධකාලීන බෞද්ධ උපාසිකාවන් පිළිබඳ ප්‍රකාශ කිහිපයකි.

A - කොසොල් රජතුමා විසින් අසන ලද ප්‍රශ්නවලට දක්ෂ ලෙස පිළිතුරු දුන්නාය.

B - ඇදහිය හැකි කතා ඇති උපාසිකාවන් අතර අගතනතුර ලැබුවාය.

C - පතිකුලයට යනවිට පියාණන් විසින් දෙනලද අවවාද පිළිපැද්දාය.

D - සොළොස් වසරක් තිස්සේ ගෘහස්ථ බ්‍රහ්මචරියාව ආරක්ෂා කළාය.

E - දන්දීමේ ඇලුණු උපාසිකාවන් අතර අගතනතුර ලැබුවාය.

මේවා අතරින් විශාඛා මහෝපාසිකාව පිළිබඳ නිවැරදි ප්‍රකාශ දෙක ............................. වේ.

(1) A සහ B (2) A සහ C (3) B සහ C (4) C සහ D (5) C සහ E

**13.** ආචාරධර්ම පිළිබඳ බෞද්ධ ඉගැන්වීම් අනුව සචේතනික ක්‍රියාවේ ............................. කර්තෘ වෙත පැවරේ.

(1) වගකීම (2) චේතනාව (3) ස්වච්ඡන්දතාව

(4) ස්වාධීනත්වය (5) ඇගයීම

**14.** පහතින් දැක්වෙන්නේ රාජ්‍ය පාලනය පිළිබඳ බෞද්ධ ඉගැන්වීම්වලට අදාළ ප්‍රකාශ පහකි.

A - නිර්ධනයන්ට තමා අභිමත කර්මාන්ත ආදිය සඳහා ධනය ලබාදීම.

B - විවාහක අවිවාහක කාන්තාවන්ට ආරක්ෂාව සැලසීම.

C - අපරාධ මර්දනය කිරීම.

D - පනවන ලද නීති කඩනොකොට ආරක්ෂා කිරීම.

E - බහුශ්‍රැත මහණ බමුණන් වෙත එළඹ අවවාද අනුශාසනා ලබා ගැනීම.

ඉහත සඳහන් ප්‍රකාශ අතරින් දසසක්විතිවත්වලට අයත් **නොවන** කරුණු දෙක ඇතුළත් වරණය තෝරන්න.

(1) A සහ B (2) B සහ C (3) B සහ D

(4) C සහ D (5) D සහ E

**15.** රාජ්‍යයේ ප්‍රභවය පිළිබඳ අග්ගඤ්ඤ සූත්‍රාගත ඉගැන්වීම් අනුව පාලකයා හා ජනතාව අතර ඇති වූ ගිවිසුමේ ප්‍රධානතම කොන්දේසිය ලෙස හඳුනාගත හැක්කේ,

(1) කෙත්වතුවල අයිතිය පාලකයා වෙත පවරා දීමයි.

(2) මහජන සම්මතයෙන් පාලකයා පත්කර ගැනීමයි.

(3) පාලකයා වෙත බදු ගෙවීමට මහජනතාව පොරොන්දු වීමයි.

(4) මහජන මතයට කන් නොදෙන පාලකයා පලවා හැරීමේ බලය ජනතාව විසින් ලබා ගැනීමයි.

(5) දසරාජ ධර්මවලට අනුගතව පාලන තන්ත්‍රය මෙහෙයවීමට පොරොන්දු වීමයි.

**16.** අත්තකාර, පරකාර, ආරම්භධාතු, නික්කමධාතු, පරක්කමධාතු ආදී පාරිභාෂික වචන මගින් බුදුසමය අවධාරණය කරන ඉගැන්වීම සඳහා වඩාත් ගැළපෙන ප්‍රකාශය කුමක් ද?

(1) කර්ම විපාකයෙන් ගැලවීමට කිසිවෙකුට හැකියාවක් නැත.

(2) පුද්ගල ස්වාධීනත්වය හා ශක්තිය මගින් පෞරුෂය ගොඩ නගාගත හැකිය.

(3) පුද්ගලයා යනු හේතුඵල සම්බන්ධයේ ප්‍රතිඵලයකි.

(4) ආත්මාර්ථය පිණිස මෙන්ම පරාර්ථය පිණිස ද එක සේ ක්‍රියා කළ යුතු ය.

(5) බියජනක සසර ජය ගැනීමට නිරන්තරයෙන් ක්‍රියා කළ යුතු ය.

**17.** බුද්ධකාලීන භාරතයේ පැවති ආගමික මතවාද කිහිපයක් පහත දැක්වේ.

A - සංශයවාදය

B - අමරා වික්ඛේපවාදය

C - පුබ්බේකතහේතුවාදය

D - හේතුඵලවාදය

E - ඊශ්වර නිර්මාණවාදය

මෙම මතවාද අතරින් පුද්ගල ස්වාධීනත්වයට, ස්වාමීත්වයට හා ස්වච්ඡන්දතාවට බාධා පමුණුවන ඉගැන්වීම් දෙකක් ඇතුළත් වරණය තෝරන්න.

(1) A සහ B (2) B සහ D (3) C සහ D

(4) C සහ E (5) D සහ E

**18.** පහත දැක්වෙන ප්‍රකාශ අතරින් හොඳ-නරක විනිශ්චයෙහිලා බෞද්ධ නිර්ණායකයක් ලෙස භාවිත කිරීමට වඩාත් සුදුසු වරණය තෝරන්න.

(1) තමාට තමා දීපයක් කොට, පහනක් කොට, සරණ කොට වාසය කරන්න.
(2) තථාගතවරු මග පෙන්වන්නෝ වෙති. විමුක්තිය සාක්ෂාත් කිරීම ඔබගේ කටයුත්තකි.
(3) තථාගත ධර්මය විවෘත වූ තරමට බැබළේ. වසා තැබීමෙන් නොබැබළේ.
(4) කයෙන්, වචනයෙන්, මනසින් සංවරවීම මැනවි.
(5) යම් ක්‍රියාවක් කොට පසුතැවීමට සිදුවේ ද, කඳුලුපිරි දෙනෙතින් විපාක විඳීමට සිදුවේ ද, එවැනි දෑ නොකටයුතු ය.

**19.** "පිඟානට බෙදා ගත් ආහාරයෙන් පවා කොටසක් දන් දී තිරිසන් සතෙකුගේ හෝ කුසගිනි නිවීමට උනන්දු වූ විදානෙ මාමා සියලුදෙනාට දයාබර වදනින් ඇමතීමටත්, අවම වශයෙන් ප්‍රියමනාප සිනහවකින් හෝ සංග්‍රහ කිරීමටත් පුරුදුව සිටියේය. නිති පන්සිල් ද පොහෝදින අටසිල් ද හොඳින් සුරැකි ඔහු, තමා හොඳින්ම දන්නා බණපොත් වුව ද ශබ්ද නගා කියවූයේ ශ්‍රාවක උවසු උවැසියන්ගේ යහපත උදෙසාමය. ලොකු කුඩා, බාල මහලු, දුප්පත් පොහොසත් භේදයකින් තොරව සියලුදෙනා වෙත සමසිතින් යුතුකම් ඉටුකළ විදානෙ මාමා සරල වූත්, සුන්දර වූත්, තෘප්තිමත් ජීවිතයක් ගත කෙළේය."

ඉහත ඡේදයේ සමස්ත අර්ථයට අනුව වඩාත් නිවැරදි ප්‍රකාශය වනුයේ, විදානෙ මාමා

(1) හොඳින් දන්දුන් බවයි.
(2) ප්‍රිය වදනින් අන් අය ඇමතූ බවයි.
(3) අන් අයගේ යහපත උදෙසාම කැප වූ බවයි.
(4) උස් පහත් භේද නොසලකා කටයුතු කළ බවයි.
(5) සතර සංග්‍රහ වස්තු හොඳින් ප්‍රගුණ කළ බවයි.

**20.** පහත සඳහන් ප්‍රකාශ අතරින් බෞද්ධ ඉගැන්වීමට අනුව **සාවද්‍ය** ප්‍රකාශය තෝරන්න.

(1) නීති ගරුකත්වය අපරිහානීය ධර්මයක් ලෙස බුදුසමයේ දැක්වේ.
(2) සාමූහික පැවැත්ම උදෙසා නීති ගරුකත්වයේ අවශ්‍යතාව ශික්ෂාපද පැනවීමේ පරමාර්ථවලින් පැහැදිලි වේ.
(3) අපරාධ වැළැක්වීමේ එකම පිළියම දඬුවම ලෙස බුදුසමය නොපිළිගනී.
(4) අපරාධවලට හේතු සෙවීමට කාලය මිඩංගු නොකොට ඒවා මර්දනය කළ යුතුය.
(5) සමාජ සම්මතයක් වූ නීතිය නො ඉක්මවා ක්‍රියා කළ යුතුය.

**21.** පහත දැක්වෙන වරණ අතරින් දසකුසල්වලට ඇතුළත් වනුයේ,

(1) බොරු නොකීම හා කේලාම් නොකීමයි.
(2) දානය හා ශීලයයි.
(3) පිං දීම හා පිං අනුමෝදන්වීමයි.
(4) වතාවත් කිරීම හා ගරුබුහුමන් කිරීමයි.
(5) බණකීම හා බණ ඇසීමයි.

**22.** ධනසම්පත් කළමනාකරණය පැහැදිලි කෙරෙන බෞද්ධ සිද්ධාන්තයක් ලෙස හඳුනා ගැනීමට වඩාත් යෝග්‍ය වන්නේ ............................පිළිබඳ ඉගැන්වීමයි.

(1) පංචබලි (2) සමජීවිකතාව (3) අපාය මුඛ
(4) භෝග සුඛ (5) සම්මා ආජීවය

**23.** බෞද්ධ ඉගැන්වීම් අනුව පුද්ගලයාගේ ආර්ථික සමෘද්ධියෙහිලා ශ්‍රමයේ ඇති වැදගත්කම පැහැදිලි කරන ඉගැන්වීමක් ලෙස සැලකිය හැක්කේ ............................ යන්නයි.

(1) "අචරිත්වා බ්‍රහ්මචරියං අලද්ධා යොබ්බනේ ධනං"
(2) "උට්ඨානවතෝ සතිමතෝ සුචිකම්මස්සනිසම්මකාරිනෝ"
(3) "බාහාබල පරිචිතේහි සේදා වක්ඛිත්තේහි ධම්මිකේහි ධම්මලද්ධේහි භෝගේහි"
(4) "න ඉච්ඡෙය්‍ය අධම්මෙන සමිද්ධිමත්තනො"
(5) "අනවජ්ජානි කම්මානි"

**24.** බුදුරජාණන් වහන්සේ විසින් නිර්මාණාත්මක සෞන්දර්යය අගය කරන ලද අවස්ථාවක් නිරූපණය වන සූත්‍රයක් වන්නේ,

(1) ආටානාටිය සූත්‍රයයි. (2) ධනිය සූත්‍රයයි.
(3) සක්කපඤ්හ සූත්‍රයයි. (4) අරිය පරියේසන සූත්‍රයයි.
(5) මහාපරිනිබ්බාන සූත්‍රයයි.

**25.** පරිසරය පිළිබඳ බුදුසමයේ අවධානය පැහැදිලි කෙරෙන ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.

A - උද්‍යානකරණය හා වන වගාව දිවා රෑ පිං වැඩෙන පිංකම් වේ.

B - ජලයෙහි මළමූත්‍ර පහකිරීම, කෙළ ගැසීම, භික්ෂූන්ට ඇවතකි.

C - "වනය (කෙලෙස්) සිඳින්න, ගස් කපන්න එපා." යන්න ප්‍රකට බෞද්ධ ඉගැන්වීමකි.

D - නිල් තණ මත මළමූත්‍ර පහකිරීම, කෙළ ගැසීම, භික්ෂූන්ට ආපත්තියකි.

E - ගස්වැල් සිඳීම හා සියලු ආකාරයේ පැළවෙන බීජ සිඳීම භික්ෂූන්ට අකැපය.

ඉහත ප්‍රකාශ පිළිබඳ අවධානය යොමු කරමින් පරිසර සංරක්ෂණයෙහිලා අනුබල දෙන කරුණු ඇතුළත් වඩාත් නිවැරදි වරණය තෝරන්න.

(1) A පමණි. (2) A, B පමණි. (3) A, B, C පමණි.
(4) A, B, C, D පමණි. (5) A, B, C, D, E යන සියල්ලම වේ.

**26.** "අගථිතෝ, අමුච්ඡිතෝ, අනජ්ඣාපන්නෝ, ආදීනව දස්සාවී, නිස්සරණ පඤ්ඤාය" යන පාරිභාෂික වචනවලින් විග්‍රහ කර ඇත්තේ ධනය ............................ පිළිබඳ දර්ශනයකි.

(1) ඉපයීම (2) පරිභෝජනය (3) සංරක්ෂණය
(4) ආයෝජනය (5) කළමනාකරණය

**27.** "පාපා නිවාරෙන්ති" යනු පවින් වැළැක්වීමයි. සිගාලෝවාද සූත්‍රයට අනුව "පවින් වැළැක්වීම" යුතුකමක් ලෙස දක්වා ඇත්තේ,

(1) මහණ බමුණන්ගේ හා දෙමාපියන්ගේ ය.
(2) මහණ බමුණන්ගේ හා ගුරුවරුන්ගේ ය.
(3) මහණ බමුණන්ගේ හා මිත්‍රයන්ගේ ය.
(4) දෙමාපියන්ගේ හා ගුරුවරුන්ගේ ය.
(5) දෙමාපියන්ගේ හා මිත්‍රයන්ගේ ය.



**28.** ආර්ථික සමෘද්ධිය අපේක්ෂා කරන ගෘහස්ථ බෞද්ධයා විසින් ආර්ථික සුරක්ෂිතතාව පිණිස භෝග විනාශ මුඛවලින් වැළකිය යුතු බව සිගාලෝවාද සූත්‍රයේ දැක්වේ. භෝග විනාශය පිණිස සෘජුව හෝ වක්‍රව හේතුවන කරුණු පහක් පහත දැක්වේ. ඒවා අතරින් භෝග විනාශ මුඛයක් ලෙස සිගාලෝවාද සූත්‍රයේ සඳහන් නොවන කරුණ කුමක් ද?

(1) රහමෙර පානය (2) පාපමිත්‍රසේවනය (3) අලසබව
(4) පරදාරසේවනය (5) දූකෙළිය

**29.** "ජිනේ කදරියං දානෙන" යන ධම්මපද ගාථා පාඨයේ අර්ථය වනුයේ "දානයෙන් ............................ දිනිය යුතුය" යන්නයි.

(1) වෛරකරන්නා (2) මසුරා (3) පරලොව (4) නිවන (5) සියල්ල

**30.** "අනාකුලා ච කම්මන්තා" යන මංගලසූත්‍රාගත පාඨයෙන් අර්ථවත් වනුයේ,

(1) නොකටයුතු කර්මාන්තවලින් වැළකීමයි.
(2) නොකටයුතු වෙළෙඳාම්වලින් වැළකීමයි.
(3) කුලයන්හි නො ඇලී කටයුතු කිරීමයි.
(4) දැහැමි ජීවන පිළිවෙතයි.
(5) නිරවුල් කර්මාන්ත ඇති බවයි.

**31.** බුදුරජාණන් වහන්සේ වෙත පූජා කරන ලද ආරාම කිහිපයක නම් පහතින් දැක්වේ. එම ආරාම නාමයන්ට ඉදිරියෙන් දැක්වෙන අදාළ ආරාම පූජාව සිදුකරන ලද පුද්ගල නාමවලින් දෙකක් පමණක් නිවැරදි ය.

A - නිග්‍රෝධාරාමය - කපිලවස්තුපුර ශාක්‍යයන්

B - රාජකාරාමය - අනේපිඬු සිටුතුමා

C - ජේතවනාරාමය - ජේත කුමරු

D - පූර්වාරාමය - විශාඛා උපාසිකාව

E - වේළුවනාරාමය - කොසොල් රජතුමා

නිවැරදි යුගල දෙක ඇතුළත් වරණය තෝරන්න.

(1) A සහ B (2) A සහ C (3) A සහ D (4) C සහ D (5) C සහ E

**32.** ධර්මසංගායනා පැවැත්වීමට හේතු සාධක වූ කරුණු කිහිපයක් පහත දැක්වේ.

A - සුභද්‍රගේ නොහික්මුණු ප්‍රකාශය
B - වජ්ජිපුත්තක භික්ෂූන්ගේ දස වස්තුව
C - විසිරී තිබූ ධර්මවිනය ඒකරාශී කිරීම
D - දුසිල් මහණුන් සසුන්ගත වීම
E - බුද්ධ වචනය විවිධාකාරයෙන් නිර්වචනය කිරීම

ඉහත සඳහන් කරුණු අතරින් ප්‍රථම සංගායනාව පැවැත්වීම සඳහා බලපාන ලද හේතු **දෙක** ඇතුළත් වරණය තෝරන්න.

(1) A සහ B (2) A සහ C (3) C සහ D (4) C සහ E (5) D සහ E

**33.** නාලන්දා විශ්වවිද්‍යාලයේ අධ්‍යාපනය ප්‍රධාන විෂය ධාරා පහක් යටතේ සිදු වූ අතර බුද්ධ ධර්මය ඉන් එකකි. එම විෂය ධාරාවේ මූලික අරමුණ ලෙස හඳුනාගත හැක්කේ ............................ ඉගැන්වීමයි.

(1) මුල් බුදුදහම (2) ථෙරවාද බුදුදහම (3) අභිධර්මය
(4) මහායාන ධර්මය (5) සර්වාස්තිවාදය

**34.** දෙවන ධර්ම සංගායනාව පැවැත්වීමට පෙර උබ්බාහිකාවක් පත්කරන ලද්දේ,

(1) සංගායනාව සඳහා භික්ෂූන් තෝරාගැනීමටයි.
(2) දසවස්තුව විනිශ්චය කිරීමටයි.
(3) දසවස්තුව පිළිගත් භික්ෂූන් හඳුනා ගැනීමටයි.
(4) සංගායනාව සංවිධානය කිරීමටයි.
(5) දසවස්තුව පිළිගත් භික්ෂූන්ට දඬුවම් කිරීමටයි.

**35.** තෙවන ධර්ම සංගායනාවෙන් පසු මොග්ගලීපුත්තතිස්ස මහරහතන් වහන්සේ විසින් කථාවත්ථුප්පකරණය රචනා කරනු ලැබූ අතර එහි වැදගත්ම ප්‍රතිඵලය ලෙස සැලකිය හැක්කේ,

(1) ථෙරවාද අභිධර්ම පිටකය සම්පූර්ණ වීමයි.
(2) ථෙරවාද බුදුදහම සුරක්ෂිත වීමයි.
(3) විනය පිටකය සම්පූර්ණ වීමයි.
(4) සූත්‍ර පිටකය සම්පූර්ණ වීමයි.
(5) ථෙරවාදයේ දේශාන්තර ව්‍යාප්තිය සිදුවීමයි.

**36.** බුද්ධකාලීන භාරතයේ ධර්මප්‍රචාරයෙහිලා ශ්‍රාවකයන් වහන්සේලාගේ කාර්යභාරය ප්‍රමාණ කිරීමට කදිම සාක්ෂියක් ලෙස හඳුනා ගතහැකි සුනාපරන්ත ජනපදයේ ශාසන ව්‍යාප්තිය සිදුකළ ශ්‍රාවකයන් වහන්සේ වූයේ,

(1) පුණ්ණ හිමියන් ය. (2) සැරියුත් හිමියන් ය. (3) මුගලන් හිමියන් ය.
(4) මහාකාශ්‍යප හිමියන් ය. (5) බක්කුල හිමියන් ය.

**37.** විවිධ ඇදහිලි හා විශ්වාසයන්ට අනුග්‍රහය දැක්වූ පණ්ඩුකාභය රජු යක්ෂ වන්දනාව පිළිබඳ විශේෂ සැලකිල්ලක් දැක්වූ බව මහාවංස වාර්තාවෙන් පැහැදිලි වේ. ඒ අනුව රජු විසින් නුවරට නැගෙනහිරින් දෙවොලක් ඉදිකර දෙන ලද්දේ කවරෙකු උදෙසා ද?

(1) චිත්තරාජ (2) වෛශ්‍රවණ (3) වළවාමුඛී
(4) ජුතින්ධර (5) කාලවේල

**38.** ඓතිහාසික වාර්තා අනුව චේතියගිරියේ අටසැටලෙන් ඉදිකොට භික්ෂූන්ට පූජා කරන ලද්දේ ............................ රජු විසිනි.

(1) දේවානම්පියතිස්ස (2) වළගම්බා (3) දුටුගැමුණු
(4) සද්ධාතිස්ස (5) හතරවන මිහිඳු

**39.** අරිට්ඨ තෙරුන්ගේ මූලිකත්වයෙන් මහාවිහාර භූමිය තුළ විනය සංගායනාවක් පැවැත්වීමේ මුඛ්‍ය පරමාර්ථය වූයේ,

(1) විනය ශාසනයේ ආයුෂ ලෙස අවධාරණය කිරීමයි.
(2) මහා විහාරයට එල්ල වූ විවිධ අභියෝග වැළැක්වීමයි.
(3) බුද්ධ ශාසනය ලක්දිව ප්‍රතිෂ්ඨාපනය කිරීමයි.
(4) විනය පිළිබඳ ව පැවති සාවද්‍ය නිර්වචන බැහැර කිරීමයි.
(5) පිරිහීමට පත්ව තිබූ භික්ෂු විනය යළි ස්ථාපනය කිරීමයි.

**40.** බුදුසමයේ සම්ප්‍රාප්තියත් සමග ශ්‍රී ලංකාවේ පැවති ඇදහිලි හා විශ්වාස කැපී පෙනෙන වෙනසකට භාජනය විය. ඊට අදාළ ප්‍රකාශ හතරක් පහත දැක්වේ.

A - සියලු ඇදහිලි හා විශ්වාස සම්පූර්ණයෙන් අහෝසි විය.

B - බොහෝ ඇදහිලි හා විශ්වාසවලට නව අර්ථකථන හිමිවිය.

C - ඇතැම් ඇදහිලි හා විශ්වාස සම්පූර්ණයෙන් අහෝසි විය.

D - ඇතැම් ඇදහිලි හා විශ්වාස බුදුසමයේ නොමද විචාරයට ලක්විය.

ඉහත ප්‍රකාශ අතරින් දේශීය ඇදහිලි හා විශ්වාසවල සිදු වූ වෙනස්කම් දැක්විය හැකි වඩාත් ගැළපෙන ප්‍රකාශ **දෙක** ඇතුළත් වරණය තෝරන්න.

(1) A සහ B (2) A සහ D (3) B සහ C (4) B සහ D (5) C සහ D

**41.** ජනතා ආකර්ෂණය ලබා ගැනීම සඳහා අභයගිරි සම්ප්‍රදාය විසින් අනුගමනය කරන ලද ක්‍රියාමාර්ගවලට අයත් **නොවන** කරුණ ලෙස හඳුනාගත හැක්කේ ............................ ආරම්භ කිරීමයි.

(1) පිණ්ඩපාත ක්‍රමය (2) පූජාවිධි (3) පෙරහර
(4) ධාතු ප්‍රදර්ශන (5) පිරිත් දේශනා ක්‍රමය

**42.** මහාවිහාරය අධ්‍යාපන ආයතනයක් වශයෙන් ජාත්‍යන්තරයේ පවා ඉමහත් කීර්තියක් අත්කරගෙන සිටි බව විවිධ මූලාශ්‍රයාගත තොරතුරුවලින් අනාවරණය වේ. මේ බව තහවුරු කිරීමට දැක්විය හැකි වඩාත්ම සුදුසු සාධකය කුමක් ද?

(1) දේශාටන වාර්තාවල මහාවිහාරය පිළිබඳ වර්ණනාත්මක තොරතුරු ඇතුළත් වීම.
(2) මහාවිහාරය ථෙරවාද සම්ප්‍රදායේ කේන්ද්‍රස්ථානය වීම.
(3) මහාවිහාරික භික්ෂූන් විදෙස් රටවල පවා ධර්ම ප්‍රචාරයට එක්වීම.
(4) විදේශීය සිසුන් හා වියතුන් මහාවිහාරයට පැමිණ අධ්‍යයන හා පර්යේෂණ කටයුතුවල නියැලීම.
(5) මහාවිහාරය ජාත්‍යන්තර ප්‍රසිද්ධියට පත් ග්‍රන්ථ සම්පාදනය කිරීම.

**43.** බුදුදහම හඳුන්වාදෙන ලද සෙසු ථෙරවාද රටවලට සාපේක්ෂව, මියන්මාර් සමාජයේ සිදු වූ සුවිශේෂ වෙනසක් ලෙස හඳුනාගත හැක්කේ,

(1) බුදුදහම රාජ්‍ය ආගම බවට පත්වීමයි.
(2) පාලි ත්‍රිපිටකය ස්වකීය භාෂාවට පරිවර්තනය කිරීමයි.
(3) පැවති ආගමික විශ්වාස සපුරා බැහැර කිරීමයි.
(4) කුලභේදය නොසලකා කටයුතු කිරීමයි.
(5) තාවකාලික පැවිද්ද ක්‍රියාත්මක වීමයි.

**44.** ථායිලන්තයට බුදුසමය සම්ප්‍රාප්තවීම හා එරට බුදුසමයේ ව්‍යාප්තිය සම්බන්ධයෙන් වන **අසත්‍ය** ප්‍රකාශය තෝරන්න.

(1) ක්‍රි.පූ. 329 දී නඛොම්පථෝම් නගරය ආශ්‍රිතව බුදුසමය ව්‍යාප්තව පැවති බව ඓතිහාසික සාධක අනුව පිළිගැනේ.
(2) බුදුරදුන් ජීවමාන අවධියේම භාරත-ථායි වෙළෙඳ සබඳතා මාර්ගයෙන් ථායිලන්තයට බුදුසමය ව්‍යාප්ත විය.
(3) ක්‍රි.ව. 700 දී පමණ පලම්භාන් රජුගේ අනුග්‍රහයෙන් මහායාන බුදුසමය ව්‍යාප්ත විය.
(4) ක්‍රි.ව. 7 වන සියවසේ ද්වාරවතී රාජ්‍යයේ (ථායිලන්තයට අයත් ප්‍රදේශයක්) බුදුසමය සමෘද්ධිමත්ව පැවතියේ ය.
(5) ක්‍රි.ව. 11 වන සියවසේ බුරුම පාලක අනෞරථ රජුගේ අනුග්‍රහයෙන් ථායිලන්තයේ බුදුසමය ව්‍යාප්ත විය.

**45.** ඓතිහාසික මූලාශ්‍රය අනුව ක්‍රි.ව. 250 දී ඉන්දියාවෙන් චීනයට වැඩම කර, විනය කටයුතු සඳහා ධවල අශ්වාරාමයේ සීමාමාලකයක් පිහිටුවා භික්ෂු ශාසනය ආරම්භ කරන ලද භික්ෂූන් වහන්සේ ......................... හිමියන් ය.

(1) කුමාරජීව (2) කාශ්‍යප මාතංග (3) ධර්මරක්ෂ
(4) බෝධිධර්ම (5) සංඝවර්මන්

**46.** ජපන් ජනයා විසින් බෞද්ධ චාරිත්‍රානුකූලව, මහත් හරසරින් වාර්ෂිකව සමරනු ලබන මළවුන් පිදීමේ උත්සවය ............................ නමින් හැඳින්වේ.

(1) බොන් (2) ජෝදෝජ් (3) නෙහංජ්
(4) හනමත්සුරි (5) චානෝයි

**47.** සෑම බුද්ධ ප්‍රතිමාවක්ම කිසියම් පණිවුඩයක් සන්නිවේදනය කරන මුද්‍රාවක් සහිතව නිර්මාණය කොට ඇත. ඒ අනුව ඉන්දියාවේ සුප්‍රකට සාරානාත් බුද්ධ ප්‍රතිමාව නිර්මාණය කොට ඇත්තේ,

(1) අභය මුද්‍රාවෙනි. (2) විතර්ක මුද්‍රාවෙනි. (3) භූමිස්පර්ශ මුද්‍රාවෙනි.
(4) වරද මුද්‍රාවෙනි. (5) ධර්මචක්‍ර මුද්‍රාවෙනි.

[අටවැනි පිටුව බලන්න

**48.** අනුරාධපුර යුගයේදී නිර්මාණය වූ ශ්‍රී ලාංකේය සඳකඩපහණ පොළොන්නරුව හා මහනුවර යුගවලදී සැලකිය යුතු වෙනස්කම්වලට ලක්ව තිබේ. එහිදී සිදු වූ වෙනස්කම් කිහිපයක් පහත දැක්වේ.

A - සතුන් වෙන් වෙන්ව පේළිවල දැක්වීම

B - සඳකඩපහණ ප්‍රමාණයෙන් විශාල වීම

C - අර්ධපද්මය පූර්ණ පද්මය බවට පත්වීම

D - සඳකඩපහණේ කවාකාර හැඩය ත්‍රිකෝණාකාර වීම

E - සත්ත්ව රූපාවලියෙන් ගවයා ඉවත් වීම

ඉහත වෙනස්කම් අතරින් මහනුවර යුගයට අයත් සඳකඩපහණේ දක්නට ලැබෙන විශේෂතා දෙකක් ඇතුළත් වරණය තෝරන්න.

(1) A සහ B (2) A සහ C (3) B සහ D
(4) C සහ D (5) D සහ E

**49.** මහල් සහිතව ඉදිකරන ලද පිළිමගෙවල් හඳුන්වන ලද්දේ .............................. නමිනි.

(1) ගන්ධකුටි (2) ගෙඩිගේ (3) පාසාද
(4) පටිමාඝර (5) පඤ්චායතන

**50.** ශ්‍රී ලාංකේය බෞද්ධ චිත්‍ර කලාව බෞද්ධ සාරධර්ම සන්නිවේදනයෙහිලා සුවිශේෂ කාර්යභාරයක් සිදුකොට තිබේ. එවැනි සිතුවම් ඇති අනුරාධපුර යුගයට අයත් ස්ථානයක් ලෙස සැලකෙන්නේ,

(1) මහියංගණ ස්තූපයයි. (2) හිඳගලයි. (3) පුල්ලිගොඩයි.
(4) තිවංක පිළිමගෙයයි. (5) දඹුල්ලයි.

* * *

නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Adv. Level) Examination, 2020

බෞද්ධ ශිෂ්ටාචාරය II
பௌத்த நாகரிகம் II
Buddhist Civilization II

45 S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**උපදෙස්:**

* **I කොටසින්** ප්‍රශ්න **දෙකක්** ද, **II කොටසින්** ප්‍රශ්න **තුනක්** ද තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

* සෑම ප්‍රශ්නයකට ම ලකුණු **20** බැගින් හිමි වේ.

## I කොටස

**1.** (i) වෛශ්‍ය වර්ණයට අයත් ස්වධර්ම **හතරක්** නම් කරන්න. (ලකුණු 02යි.)

(ii) ශ්‍රමණ සංස්කෘතියේ අනන්‍යතා ලක්ෂණ **තුනක්** ගෙනහැර දක්වන්න. (ලකුණු 03යි.)

(iii) කාන්තා නිදහස වෙනුවෙන් බුදුසමයෙන් ගනු ලැබූ පියවර තහවුරු කිරීමට සාධක **හතරක්** ඉදිරිපත් කරන්න. (ලකුණු 04යි.)

(iv) බුද්ධකාලීන භාරතීය සමාජය වාණිජ්‍යකරණය වෙමින් පැවති බවට සාධක **පහක්** කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 05යි.)

(v) අජිත කේසකම්බලගේ ආගමික ඉගැන්වීම් මගින් සමාජ සදාචාරයට සිදුවන අහිතකර බලපෑම පැහැදිලි කරන්න. (ලකුණු 06යි.)

**2.** (i) බුදුරජාණන් වහන්සේ 'අරහං' නාමයෙන් හැඳින්වීමට හේතු වූ සාධක **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි.)

(ii) බුදුරජාණන් වහන්සේගේ ත්‍රිවිද්‍යා ඥානය නම්කොට එහි අර්ථය ලියන්න. (ලකුණු 03යි.)

(iii) බුදුරජාණන් වහන්සේ විශිෂ්ට ශාස්තෘත්වයක් ප්‍රකට කළ බවට සාධක **හතරක්** ගෙනහැර දක්වන්න. (ලකුණු 04යි.)

(iv) ආනන්ද හිමියන් සතුව පැවති චරිත ලක්ෂණ තුළින් ලැබිය හැකි ආදර්ශ **හතරක්** පැහැදිලි කරන්න. (ලකුණු 05යි.)

(v) වීතරාගී උතුමන් ස්වභාව සෞන්දර්යය අත්විඳි ආකාරය මූලාශ්‍රය සාධක **හතරක්** ඇසුරින් විස්තර කරන්න. (ලකුණු 06යි.)

**3.** (i) "න භජෙ පාපකෙ මිත්තෙ" යන ධම්මපද ගාථාව නිවැරදිව සම්පූර්ණ කරන්න. (ලකුණු 02යි.)

(ii) එම ගාථාවේ අර්ථය ලියා දක්වන්න. (ලකුණු 03යි.)

(iii) දෙමාපිය-දූ දරු යුතුකම් හා වගකීම් දහය සිගාලෝවාද සූත්‍රයට අනුව නම් කරන්න. (ලකුණු 04යි.)

(iv) පුද්ගලයාගේ පරිහානියට හේතුවන පරාභව සූත්‍රාගත කරුණු **පහක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 05යි.)

(v) පුද්ගලයාගේ මෙලොව දියුණුවට හේතුවන මංගල සූත්‍රාගත කරුණු **හයක්** පිළිබඳ කෙටි විවරණයක් සපයන්න. (ලකුණු 06යි.)

[ දෙවැනි පිටුව බලන්න.

## II කොටස

4. (i) චතුර් වර්ණයේ ප්‍රභවය පිළිබඳ බෞද්ධ විග්‍රහය නිර්මාණවාදී සංකල්පවලින් බැහැර වී ඇති අයුරු පැහැදිලි කරන්න. (ලකුණු 10යි.)

   (ii) රාජ්‍ය පාලන තන්ත්‍රයේ යහපැවැත්ම විෂයයෙහි ප්‍රජා වගකීම් කවරේදැයි බෞද්ධ ඉගැන්වීම් අනුසාරයෙන් පෙන්වා දෙන්න. (ලකුණු 10යි.)

5. (i) හොඳ-නරක ක්‍රියා තමා විසින්ම තීරණය කරගත හැකි ආකාරය බෞද්ධ සදාචාර නිර්ණායක ඇසුරෙන් විස්තර කරන්න. (ලකුණු 10යි.)

   (ii) වර්තමාන සමාජ ප්‍රශ්න හමුවේ සරල දිවිපැවැත්මක ඇති ප්‍රායෝගික වැදගත්කම බෞද්ධ සාරධර්ම ඇසුරෙන් පෙන්වා දෙන්න. (ලකුණු 10යි.)

6. (i) නූතන පාරිසරික ගැටලු අවම කරගැනීමෙහිලා පරිසර සංරක්ෂණය පිළිබඳ බෞද්ධ ඉගැන්වීම් උපයෝගී කරගත හැකි ආකාරය පරීක්ෂා කරන්න. (ලකුණු 10යි.)

   (ii) "ආර්ථික සමෘද්ධිය වනාහි තෘප්තිමත් ගෘහස්ථ ජීවිතයකට අත්‍යවශ්‍ය සාධකයකි." ධනෝපායනය පිළිබඳ බෞද්ධ ඉගැන්වීම් අනුසාරයෙන් සනාථ කරන්න. (ලකුණු 10යි.)

7. (i) ප්‍රථම ධර්ම සංගායනාවේ පසුබිම කෙටියෙන් දක්වා බුදුසසුනේ චිරස්ථිතිය වෙනුවෙන් එහිදී ගනු ලැබූ තීරණ පැහැදිලි කරන්න. (ලකුණු 10යි.)

   (ii) ධර්මාශෝක රජතුමාගෙන් සිදුවූ ශාසනික මෙහෙය ප්‍රමාණවත් සාධක මගින් ඇගයීමට ලක් කරන්න. (ලකුණු 10යි.)

8. (i) පැරණි ලක්දිව රාෂ්ට්‍ර පාලනය විෂයයෙහි බුදුසමය බලපෑ අයුරු උදාහරණ මගින් පැහැදිලි කරන්න. (ලකුණු 10යි.)

   (ii) බුද්ධ ප්‍රතිමා නිර්මාණයේ ආරම්භය කෙටියෙන් දක්වා එහිලා භාවිත ආසන හා මුද්‍රා නිදසුන් මගින් විස්තර කරන්න. (ලකුණු 10යි.)

* * *